නව නිර්දේශය/புதிய பாடத்திட்டம்/New Syllabus

NEW

ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව
இலங்கைப் பரீட்சைத் திணைக்களம்
Department of Examinations, Sri Lanka

47 S

අධ්‍යයන පොදු සහතික පත්‍ර (සාමාන්‍ය පෙළ) විභාගය, 2016 දෙසැම්බර්
கல்விப் பொதுத் தராதரப் பத்திர (சாதாரண தர)ப் பரீட்சை, 2016 டிசெம்பர்
General Certificate of Education (Ord. Level) Examination, December 2016

සිංහල සාහිත්‍ය රසාස්වාදය
இலக்கிய நயம் சிங்களம்
Appreciation of Sinhala Literary Texts

පැය තුනයි
மூன்று மணித்தியாலம்
Three hours

※ I කොටසෙහි 1, 2 ප්‍රශ්නවලටත්, II කොටසෙහි 3 වැනි ප්‍රශ්නයටත්, III කොටසෙහි 4, 5, 6, 7 ප්‍රශ්නවලින් තෝරා ගත් ප්‍රශ්න **දෙකකටත්** උත්තර සපයන්න.

## I කොටස

1. (i) සිට (v) තෙක් ඇති කොටස් කියවා, ඒවා ඇසුරින් අසා ඇති (අ), (ආ) ප්‍රශ්නවලට **කෙටි උත්තර** ලියන්න.

(i) "තොපට වරදානයක් දෙමි, කැමති වරයක් ඉල්වා ගනැ'යි කීහ."
- (අ) මෙම ප්‍රකාශය කරන ලද්දේ කවුරුන් විසින් ද?
- (ආ) මෙහි 'තොපට' යනුවෙන් ආමන්ත්‍රණය කෙරෙන්නේ කාට ද?

(ii) "නවදැලි සේනේ අප දුටු දා වක ගැසී ගිය වැදිරිමැල්ලත් වටිත් ........."
- (අ) මෙහි 'වැදිරිමැල්ල' යන්නෙන් හැඳින්වෙන්නේ කවුරුන් ද?
- (ආ) මෙම පාඨය උපුටාගත් කතාව ඇතුළත් මුල් කෘතිය කුමක් ද?

(iii) "උඹට වතුර බොන්න ඕනෑ ද?"
- (අ) මෙම ප්‍රකාශය කළේ කවරෙක් ද?
- (ආ) මෙම ප්‍රකාශය ශ්‍රවණය කරමින් සිටි තැනැත්තා කරමින් සිටි කාර්යය කුමක් ද?

(iv)
නොමින් ලොව සියලු දේ දක්නා ඇසට
තමන් සැටි මදක් වත් නොපෙනෙන ලෙසට
අනුන් දොස දකිති **අනුවණ දන** කපට
එමෙන් සිය **තුගුණ** නො දකිති නියම කොට

- (අ) මෙහි මුල් කවිපද දෙකේ අදහස ලියන්න.
- (ආ) තද කළු අකුරෙන් මුද්‍රිත පදවල අර්ථ වෙන වෙන ම ලියන්න.

(v)
උපන් නෙත් මැරෙන්නෙත් තනියම යි ලොවේ
එයින් පිටත්තර වෙන විදියකින් නොවේ
එයින් එහෙම නම් තම යුතුකම හමුවේ
බියෙන් තැති ගැනුම අපහට තරම් නොවේ

- (අ) 'බියෙන් තැති ගැනුම අපහට තරම් නොවේ' යන්නෙන් මතු කෙරෙන අර්ථය කුමක් ද?
- (ආ) මෙම කවිය ඇතුළත් පැදි පෙළේ රචකයා කවරෙක් ද? (ලකුණු 04 × 5 = 20 යි.)

2. පහත දී ඇති පැදි පෙළ කියවා අසා ඇති ප්‍රශ්න උපයෝගී කොට ගෙන **රසාස්වාදයක්** ලියන්න.

එක් යුගයක ජීවනයේ සරතස නිවූ මා සුමිතුර
දුර හිඳිනා ඔබ දකින්න ආයෙමි දිගු කලකට පසු

බමන විදුලි පංකාවෙන් වා ගැබ කැළඹෙන හඬ මිස
එ සඳ ඔබේ මුව'ග නැගුණු සාද තෙපුල් නැසේ මට

මේසය මත ලිපි ගොනු රැස සුළඟෙ නොයා දී රකිමින්
ඒ මත හිඳිනා ගල සේ මා අබියස නිහඬය ඔබ

බිත්තියෙ ඇති සේයා රූ එකිනෙක එබී එබී බලයි
නැතියෙන් ඔබෙ වත හසරැලි මදෙස බලා සිනා නගයි

[දෙවැනි පිටුව බලන්න

බාලේ අපි ගම් දොර කෙළි මඬුලු මැදින් ආ ගමනේ
මහදේ ඇඳි ඔබෙ සිතුවම කොහි සැඟවිණි දැයි නොදැනේ

එක යුගයක ජීවනයේ සරතස නිවූ මා සුමිතුර
ඔබ අසලින් බැහැරට යම් කුමට ද ඔබගේ අවසර?

(i) මෙම පද්‍ය පන්තියට රචකයා යොදාගෙන ඇති අත්දැකීම කුමක් ද?

(ii) කවියා යොදාගෙන ඇති ආකෘතිය එම අත්දැකීම රසවත්ව ඉදිරිපත් කිරීම සඳහා කෙතෙක් දුරට උචිත වන්නේ ද?

(iii) කවියා තම අත්දැකීම ප්‍රබලව ඉදිරිපත් කිරීමට යොදාගත් යෙදුම් **දෙකක්** නම් කරන්න.

(iv) මෙම පද්‍ය පන්තියේ ඇතුළත් පුද්ගලයන් දෙදෙනා ගැමි පරිසරයක අත්දැකීම් ලැබූ බව සනාථ කෙරෙන යෙදුමක් සඳහන් කරන්න.

(v) කවියා යොදාගත් භාෂාව රස නිෂ්පත්තිය උදෙසා කෙතෙක් දුරට ගැළපේ ද?

(ලකුණු 25 යි.)

## II කොටස

● පහත දැක්වෙන ගද්‍ය - පද්‍ය කොටස් දෙකින් **එක කොටසකට පමණක්** උත්තර සපයන්න.

**3.** "බුදුහු 'මේ තෙමේ සන්තක වස්තුවට තමා ආවේණික ව හිමි හෙයින් ඉල්වයි. ඒ සම්පත් තරමටත් ඒ මුල් වන ආදීනව මහත. මා සර්වඥතා නමැති එක ධනය දී ලා ලත් ධන සතෙක් ඇත. මූටත් ඒ ධන සත ම දෙම්'යි සිතා වදාරා සැරියුත් මහතෙරුන් වහන්සේ කැඳවාලා 'හෙම්බා ශාරිපුත්‍රයෙනි, තෙල රහල් කුමරු අප අතින් වස්තු ඉල්වති. මහණ වන්ට එන ගමනේ අප ලා ලා ආ රකවල් නැති හෙයින් මුන් ඉල්වන සම්පත් තුබුවා නැත. හැමත් ධනයෙක් ම වේ ද? අපට ඒ ඇති ව තුබූ ධන සත ම දෙන නියායෙන් තුලුන් මහණ කරව'යි විධාන කොට මහණ කැරවූ සේක. මහණ වීමෙන් සිවුරෙනුත් එක් වැනි වූ සේක.

රහල් කුමරුන් මහණ වන්නා ම සුදොවුන් මහරජ්ජුරුවන්ට ශෝක බලවත් විය.

රජ්ජුරුවෝ ශෝක ඉවසා ගත නොහී බුදුන්ට දන්වන්නෝ 'මුඹ වහන්සේ මහණ වන්ට නික්මුණු දවස් ඇති ශෝකය නන්ද කුමර-රහල් කුමර දෙන්නාගේ මුහුණු දක්නා හෙයින් නිවිණ. නන්ද කුමරුන් මහණ වූ ශෝකය තනි රහල් කුමරුන් මුහුණ දක්නා හෙයින් සන්හුණ. උන් මහණ වූ ශෝකය අතික් සන්හිඳුවන්නෝ කවුරු ද? දරුපෙම් මුණුබුරුපෙම් ඇත්තේ මට මතු නොවන්නේ වේ ද කාටත් සරි ය. මේ කටයුත්ත මා පිළිබඳ හෙයින් කෙළේ ම ය. ඊට කිම් ද? මෙවක් පටන් මහණ වන්ට දෙමවුපියන් අනුනොදත් දරුවන් මහණ නො කරන්ට විධානයක් ඇත මැනැවැ'යි දැන් වූ ය. බුදුහුත් යහපතැ යි ගිවිසි සේක. "

(i) මෙම පාඨයෙහි සඳහන් පරිදි රාහුල කුමරුන් බුදුන් වහන්සේ පසුපස පැමිණියේ කුමක් සඳහා ද? (ලකුණු 05 යි.)
(ii) බුදුන් වහන්සේ රාහුල කුමරුන්ට ලබාදුන් වස්තුව කුමක් ද? (ලකුණු 05 යි.)
(iii) සුදොවුන් රජතුමා බුදුන් වහන්සේගෙන් කළ ඉල්ලීම කුමක් ද? (ලකුණු 05 යි.)
(iv) රහල් කුමරු මහණ කිරීමෙන් තමාට ඇති වූ ශෝකය සුදොවුන් රජතුමා විස්තර කරන ආකාරය පැහැදිලි කරන්න. (ලකුණු 10 යි.)

(ලකුණු 25 යි.)

**නැතහොත්**

හිස නමා ගති ඈ
සිහින් රතැඟිලි පටලවා ගනී,
සතියකට පෙර ගෙනා වර
විළිබරය මගෙ රන්වන් මනාලිය

දැල් තිර අස්සෙන්
පෙනෙයි ඈ
ඔබ යනු මොබ එනු
පට පිළී ගෙන අබරණ පෙට්ටි ගෙන

ඇසෙයි නොපෙනෙන විටත්
සාලයෙන් කාමරයට
කාමරයෙන් සාලයට
යන පා හඬ

[ තුන්වැනි පිටුව බලන්න

මා වෙත එතත් ඈ
වුවමනාවක් කිසිත් නැතිවද
නො රැඳෙයි, පලා යෙයි

ගෑ විලවුනෙහි,
නැත, රන්වන් සමෙහි
හෙළන සුස්මෙහි සුවඳය ඒ
ඈ බඳ සුවඳ
දැනෙන්නේ මට විතර ද?

පෙනෙයි ඈ
ඇසෙයි
දැනෙයි
මට ගේ හැම තැන

(i) මෙම පද්‍ය පන්තියේ සඳහන් මනාලියගේ ලැජ්ජාශීලී ස්වභාවය පිළිබිඹු වන නිදසුන් **දෙකක්** ඉදිරිපත් කරන්න. (ලකුණු 05 යි.)

(ii) පද්‍ය පන්තිය සඳහා යොදා ගෙන ඇති බස්වහර එහි සාර්ථකත්වය උදෙසා බලපා ඇති ආකාරය කෙටියෙන් විස්තර කරන්න. (ලකුණු 05 යි.)

(iii) මනාලිය කෙරෙහි මනාලයා ඇති කර ගත් බැඳීම විග්‍රහ කෙරෙන කාව්‍යෝක්ති **දෙකක්** නම් කරන්න. (ලකුණු 05 යි.)

(iv) සුලබ අත්දැකීමක් අපූර්වත්වයෙන් ඉදිරිපත් කිරීමට කවියා දරා ඇති උත්සාහය පැදි පෙළ ඇසුරෙන් විමසන්න. (ලකුණු 10 යි.)

(ලකුණු 25 යි.)

## III කොටස

මෙම කොටසේ ප්‍රශ්න **දෙකකට** පමණක් උත්තර සපයන්න.
(එක් උත්තරයකට වචන **150ක් වත්** තිබිය යුතු ය.)

**4.** ළමා මනසෙහි දේශාභිමානය දැනවීමෙහි ලා 'පුතු ඉපදුණු මේ දෙරණේ' නිර්මාණය ඉවහල් වන ආකාරය නිදසුන් **තුනක්වත්** දක්වමින් විමසන්න. (ලකුණු 15 යි.)

**5.** වෙසක් පහන කෙටිකතාවේ චරිත නිරූපණය, එහි සාර්ථකත්වය කෙරෙහි බලපා ඇති ආකාරය නිදසුන් **තුනක්වත්** ආශ්‍රයෙන් පැහැදිලි කරන්න. (ලකුණු 15 යි.)

**6.** කුස ජාතකය චිත්ත රූප දනවන අන්දමේ ජාතක කථාවක් බවට පත්වීමෙහිලා එහි භාෂාව උපයෝගී වී ඇති ආකාරය නිදසුන් **තුනක්වත්** ආශ්‍රයෙන් පැහැදිලි කරන්න. (ලකුණු 15 යි.)

**7.** තුංමං හංදිය නවකතාවේ සාර්ථකත්වය කෙරෙහි එහි මනා සිද්ධි ගැළපීම ඉවහල් වී ඇති ආකාරය නිදර්ශන **තුනක්වත්** ආශ්‍රයෙන් විමසන්න. (ලකුණු 15 යි.)

(ලකුණු 15 × 2 = 30 යි)

* * *